**ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව**
**இலங்கைப் பரீட்சைத் திணைக்களம்**
**Department of Examinations, Sri Lanka**

**අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2017 අගෝස්තු**
**கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2017 ஓகஸ்ற்**
**General Certificate of Education (Adv. Level) Examination, August 2017**

| | | |
|---|---|---|
| **සන්නිවේදනය හා මාධ්‍ය අධ්‍යයනය I**<br>தொடர்பாடலும் ஊடகக் கற்கையும் I<br>Communication and Media Studies I | **29 S I** | **පැය දෙකයි**<br>இரண்டு மணித்தியாலம்<br>*Two hours* |

**උපදෙස්:**

* **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
* උත්තර පත්‍රයේ නියමිත ස්ථානයේ ඔබේ **විභාග අංකය** ලියන්න.
* උත්තර පත්‍රයේ දී ඇති උපදෙස් ද සැලකිල්ලෙන් කියවා පිළිපදින්න.
* **1** සිට **50** තෙක් එක් එක් ප්‍රශ්නයට (1), (2), (3), (4), (5) යන පිළිතුරුවලින් **නිවැරදි හෝ ඉතාමත් ගැළපෙන හෝ** පිළිතුර තෝරාගෙන, එය **උත්තර පත්‍රයේ පසුපස දැක්වෙන උපදෙස් පරිදි කතිරයක්** (X) **යොදා දක්වන්න.**

**1.** සන්නිවේදන ආකෘතිවල දී මූලාශ්‍රය පිළිබඳ වඩාත් සංකීර්ණ ලෙස කරුණු ඉදිරිපත් කරන ලද්දේ,
(1) විල්බර් ශ්‍රාම් විසිනි. (2) චාල්ස් ඔස්ගුඩ් විසිනි.
(3) හැරල්ඩ් ඩී. ලැස්වෙල් විසිනි. (4) ෂැනන් හා වීවර් විසිනි.
(5) ඩේවිඩ් කේ. බර්ලෝ විසිනි.

**2.** මානව සන්නිවේදන ඉතිහාසයෙහි ආරම්භක සන්නිවේදන ස්වරූප දෙක මොනවා ද?
(1) වාචික හා අවිධිමත් (2) විධිමත් හා අවිධිමත් (3) ශ්‍රව්‍ය හා වාචික
(4) දෘශ්‍ය හා අවාචික (5) ලිඛිත හා දෘශ්‍ය

**3.** සන්නිවේදන මූලිකාංගවලට අයත් **නො වන්නේ** මින් කවරේ ද?
(1) බලපෑම (2) බාධක (3) ප්‍රතිපෝෂණය
(4) සන්දර්භය (5) ආකෘතිය

**4.** ගණිත ආචාර්යවරයා කළුලෑල්ලේ ලියූ අංක කිහිපයක් අපැහැදිලි වීම නිසා කමල් සිය පොතෙහි ලියා ගත් අංක සාවද්‍ය විය. එබැවින් පිළිතුර ද අසාර්ථක විය. මෙය සන්නිවේදන විග්‍රහය අනුව,
(1) ග්‍රාහක දෝෂයකි. (2) බාධක තත්ත්වයකි.
(3) සාවද්‍ය චින්තනයකි. (4) පරිකල්පන ගැටලුවකි.
(5) අනවබෝධයකි.

**5.** පිටපත් වැඩි සංඛ්‍යාවක් අවශ්‍ය වන මුද්‍රණ කාර්යයක දී බහුලව යොදා ගත හැකි මුද්‍රණ ක්‍රමය කුමක් ද?
(1) උස්තල (2) සමතල (3) තිර (4) අංකිත (5) රොටරි

**6.** මිනිසා දෛනිකව බහුල වශයෙන් යොදා ගන්නා සන්නිවේදන ස්වරූපය කුමක් ද?
(1) අවාචික (2) වාචික (3) ශ්‍රව්‍ය (4) දෘශ්‍ය (5) අවිධිමත්

**7.** මූලික භාෂා භාවිත ප්‍රභේදයක් ලෙස සැලකිය **නො හැක්කේ**,
(1) සංස්කරණයයි. (2) කථනයයි. (3) විවරණයයි. (4) රූපණයයි. (5) භාෂණයයි.

**8.** අවාචික සන්නිවේදනයේ ලක්ෂණයක් **නො වන්නේ**,
(1) එකම ක්‍රමයක් නොපැවතීමයි. (2) අචේතනිකව ද සිදු වීමයි.
(3) පුද්ගලබද්ධ වීමයි. (4) රීතියක් පැවතීමයි.
(5) අඛණ්ඩව භාවිත වීමයි.

**9.** දුරකථන සන්නිවේදනයක දී දෙපාර්ශ්වයටම වැටහෙන පරිදි යොදා ගත හැකි නිර්වාචික සන්නිවේදන ක්‍රම වන්නේ,
(1) කථන වේගය, නිහඬතාව, ගන්ධය, රිද්මය
(2) නිහඬතාව, ඉඟිය, රිද්මය, අවකාශය
(3) නිහඬතාව, කථන වේගය, රිද්මය, හඬ රටා
(4) කථන වේගය, තාරතාව, ගන්ධය, රිද්මය
(5) අවකාශය, ඉරියව්, කටහඬ, රිද්මය

[ දෙවැනි පිටුව බලන්න.

**10.** උපභාෂාවක් යනු,
(1) සම්මත නියමයන් උල්ලංඝනය කරන්නකි. (2) අස්වාභාවික භාෂා සංසිද්ධියකි.
(3) අඛණ්ඩව භාවිත කරන්නකි. (4) ප්‍රධාන භාෂා ධාරාවෙන් බිඳී ආවකි.
(5) ජනමාධ්‍යවලට වැදගත් වන භාෂා රටාවකි.

**11.** වර්තමාන ගෝලීයකරණයේ දෘෂ්ටිවාදය වන්නේ,
(1) මාක්ස්වාදයයි. (2) ජාතිකවාදයයි. (3) ලිබරල්වාදයයි.
(4) ෆැසිස්ට්වාදයයි. (5) ප්‍රජාතන්ත්‍රවාදයයි.

**12.** නිර්වාචික සන්නිවේදනය කලාත්මකව සහ ප්‍රබලව යොදා ගත හැකි මාධ්‍යය වන්නේ,
(1) ගුවන් විදුලියයි. (2) රූපවාහිනියයි.
(3) සිනමාවයි. (4) අන්තර්ජාලයයි.
(5) නව මාධ්‍යයයි.

**13.** මාධ්‍ය නියාමනය ඍජුව සිදු කළ හැක්කේ,
(1) ජනමාධ්‍ය ආචාරධර්මවලිනි. (2) සාම්ප්‍රදායික ක්‍රමවලිනි.
(3) නිදහස් මතවාදයෙනි. (4) නෛතික විධික්‍රමවලිනි.
(5) මාධ්‍ය සම්මුතිවලිනි.

**14.** සංවර්ධනයේ දී ජාතික අපේක්ෂා ඉහළ නැංවීමට ජනමාධ්‍ය භාවිත කළ හැකි ය. මේ බව පෙන්වා දුන්නේ,
(1) විල්බර් ශ්‍රාම් ය. (2) ඩඩ්ලි සියර්ස් ය.
(3) පෝල් පී. ස්ටීවන් ය. (4) විමල් දිසානායක ය.
(5) එවරට් එම්. රොජර්ස් ය.

**15.** පරිභෝජනවාදී සහ ජනප්‍රිය සංස්කෘතික මානසිකත්වය සමාජයෙහි ඇතිකරලීමෙහිලා වඩාත් ම දායක වන්නේ,
(1) ගුවන් විදුලි මාධ්‍යයයි. (2) මුද්‍රිත මාධ්‍යයයි.
(3) අන්තර්ජාලයයි. (4) රූපවාහිනී මාධ්‍යයයි.
(5) සමාජ මාධ්‍යයයි.

**16.** ලිබරල්වාදයේ පදනම වන්නේ,
(1) සමාජ පන්ති සහයෝගීතාවයි. (2) පුද්ගල නිදහසයි.
(3) ප්‍රජා අයිතිවාසිකමයි. (4) වාර්ගික සහජීවනයයි.
(5) ජාතික සංහිඳියාවයි.

**17.** ජනමාධ්‍ය ග්‍රාහක ක්ෂේත්‍රය ස්වභාවයෙන් ම
(1) සක්‍රිය වේ. (2) විසමජාතීය වේ. (3) සාමූහික වේ.
(4) සමජාතීය වේ. (5) ඒකාකෘති වේ.

**18.** ජනසන්නිවේදන ක්‍රියාවලිය තුළ දක්නට **නො ලැබෙන්නේ**,
(1) විධිමත් ආයතනික රටාවක පැවැත්මයි.
(2) තාක්ෂණික යන්ත්‍රසූත්‍ර භාවිතයේ බහුලතාවයි.
(3) දොරටුපාලකයන් ගණනාවකගේ මැදිහත් වීමයි.
(4) සන්නිවේදක-ග්‍රාහක සම්බන්ධතාවෙහි සමීප බවයි.
(5) වාණිජත්වය පදනම් වූ ලාභාපේක්ෂාවයි.

**19.** පහත සඳහන් වාක්‍යාංශයට අදාළ **සදොස්** වාක්‍ය ඛණ්ඩය තෝරන්න.
සංවර්ධන සන්නිවේදනය බොහෝ අවස්ථාවල දී
(1) මාධ්‍ය මිශ්‍රිතයක් භාවිත කරන්නකි. (2) සමාජ අලෙවිකරණ සන්දේශයකි.
(3) ව්‍යාපාරික අරමුණු අන්තර්ගත වූවකි. (4) ප්‍රතිලාභී ප්‍රජාව ඉලක්ක කර ගත්තකි.
(5) නිශ්චිත පණිවිඩවලින් සැදුණකි.

**20.** ජනමත නායකත්වය පිළිබඳ දෙපියවර න්‍යාය ඉදිරිපත් කළ පර්යේෂකයකු වන්නේ,
(1) හැරල්ඩ් ඩී. ලැස්වෙල් ය. (2) පෝල් ලැසාර්ස්ෆෙල්ඩ් ය.
(3) කර්ට් ලෙවින් ය. (4) විල්බර් ශ්‍රාම් ය.
(5) ඩැනියෙල් ලර්නර් ය.

**21.** ජනමාධ්‍ය භාවිතයේ දී සෙසු ඒවාට සාපේක්ෂව උදාසීන මාධ්‍ය යුගලය වන්නේ,
(1) පුවත්පත් හා සඟරා ය. (2) ගුවන් විදුලිය හා රූපවාහිනිය ය.
(3) සිනමා හා නව මාධ්‍යය ය. (4) පුවත්පත් හා ගුවන් විදුලිය ය.
(5) සිනමා හා රූපවාහිනී මාධ්‍යය ය.

**22.** සංවර්ධන සන්නිවේදනය යන සංකල්පය තහවුරු වූයේ,
(1) කාර්මික විප්ලවය ආරම්භ වූ පසුව ය. (2) පළමු ලෝක යුද්ධයට පසුව ය.
(3) දෙවන ලෝක යුද්ධයට පසුව ය. (4) නිරවි යුද්ධය අවසන් වීමෙන් පසුව ය.
(5) ගෝලීයකරණ ක්‍රියාවලියේ ආරම්භයත් සමග ය.

**23.** යමක් දෙස තමන්ගේ දෘෂ්ටිකෝණයෙන් පමණක් නොබලා අනුන්ගේ දෘෂ්ටිකෝණයෙන් ඒ දෙස බැලීම සන්නිවේදනයේ දී හඳුන්වන්නේ,
(1) සංජානනය යනුවෙනි. (2) ස්වසංකල්පය යනුවෙනි. (3) හෙජමොනිය යනුවෙනි.
(4) සහානුභූතිය යනුවෙනි. (5) සංකථනය යනුවෙනි.

**24.** ප්‍රාදේශීය ගැටලුවක් පිළිබඳ තොරතුරක් ප්‍රධාන ධාරාවේ ජනමාධ්‍ය මගින් ප්‍රචාරය නොවූව ද සමාජ මාධ්‍ය ජාලවලින් සාකච්ඡාවට ලක්කර තිබුණි. මෙයට බොහෝ විට හේතු විය හැක්කේ,
(1) නව ජනමාධ්‍යවේදය ය. (2) සංවර්ධන ජනමාධ්‍යවේදය ය.
(3) ගවේෂණාත්මක ජනමාධ්‍යවේදය ය. (4) විද්‍යුත් ජනමාධ්‍යවේදය ය.
(5) පුරවැසි ජනමාධ්‍යවේදය ය.

● පහත දක්වා ඇත්තේ සන්නිවේදනය පිළිබඳ ගණිතමය ආකෘතිය යැයි උපකල්පනය කර, **25** සිට **28** දක්වා ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.




**25.** P මූලාශ්‍රය ලෙස සැලකිය හැකි නම් 'ප්‍රතිග්‍රහණය කළ පණිවිඩය' විය යුත්තේ,
(1) Q වේ. (2) R වේ. (3) S වේ.
(4) T වේ. (5) නම් නොකළ කවය වේ.

**26.** ඡායා පිටපත්කරණ යන්ත්‍රයේ දෝෂයක් නිසා ඉන් ලබාගත් පිටපත කියවීමට අපහසු විය. රූප සටහනෙහි අන්තර්ගත සාධක අතුරෙන් මෙම තත්ත්වය නිරූපණය වන්නේ,
(1) P හි දී ය. (2) Q හි දී ය. (3) R හි දී ය. (4) S හි දී ය. (5) T හි දී ය.

**27.** සාමාන්‍ය සන්නිවේදන අවස්ථාවක සිදුවන ආකේතිකරණ හා විකේතිකරණ කාර්යයන් ඉහත රූප සටහනට අනුව සිදු වීමට ඉඩ ඇත්තේ
(1) P හා Q හි දී ය. (2) Q හා T හි දී ය. (3) T හා R හි දී ය. (4) Q හා R හි දී ය. (5) R හා S හි දී ය.

**28.** ආකෘතියේ ගලා යාමේ දිශාව අනුව ඉහත රූප සටහන
(1) ලැස්වෙල් ආකෘතියට සමාන වුවත් බර්ලෝ ආකෘතියට සමාන නැත.
(2) බර්ලෝ ආකෘතියට සමාන වුවත් ලැස්වෙල් ආකෘතියට සමාන නැත.
(3) ලැස්වෙල් සහ බර්ලෝ ආකෘතිවලට සමාන වුවත් ශ්‍රාම්-ඔස්ගුඩ් ආකෘතියට සමාන නැත.
(4) ලැස්වෙල්, බර්ලෝ සහ ශ්‍රාම්-ඔස්ගුඩ් යන සියලු ආකෘතිවලට සමාන ය.
(5) ලැස්වෙල්, බර්ලෝ සහ ශ්‍රාම්-ඔස්ගුඩ් යන කිසිම ආකෘතියකට සමාන නැත.

**29.** මාධ්‍ය සාක්ෂරතාව පිළිබඳ විවාදයක දී ඉස්මතු වූ කරුණුවලට අනුව එය,
A - මාධ්‍ය අධ්‍යාපනයේ කොටසකි.
B - මාධ්‍යකරුවන් බිහි කිරීම අරමුණු කර ගත්තකි.
C - ග්‍රාහකයාට ම සම්බන්ධ වූවකි.
D - මාධ්‍ය පරිහරණය කිරීමේ හැකියාවයි.
මේ අදහස්වලින්
(1) A හා B සත්‍ය වන අතර C හා D අසත්‍ය වේ.
(2) A හා D සත්‍ය වන අතර B හා C අසත්‍ය වේ.
(3) A හා C සත්‍ය වන අතර B හා D අසත්‍ය වේ.
(4) B හා C සත්‍ය වන අතර A හා D අසත්‍ය වේ.
(5) B හා D සත්‍ය වන අතර A හා C අසත්‍ය වේ.



[ හතරවැනි පිටුව බලන්න.

**30.** මහජන සම්බන්ධතාවෙහි ගතිලක්ෂණයක් **නොවන්නේ,**
(1) මහජනයා අතර කීර්තිනාමය පවත්වාගෙන යාම ය.
(2) සමාජ පිළිගැනීම අරමුණු කරගත් ක්‍රමෝපායික සන්නිවේදනයකි.
(3) වාණිජ ඉලක්ක සහ අරමුණු ඉක්මවා යන්නකි.
(4) දැන්වීම්කරණ හා අලෙවිකරණ ප්‍රවේශවලින් වෙනස් වූවකි.
(5) ක්ෂණික ප්‍රතිලාභ අපේක්ෂිත කෙටිකාලීන ක්‍රියාවලියකි.

**31.** **සාවද්‍ය** ප්‍රකාශය තෝරන්න.
(1) කථන සන්නිවේදනය තුළ නිර්වාචික ලක්ෂණ ඇතුළත් විය හැකි ය.
(2) විවරණය සඳහා භාෂාව පමණක් ප්‍රමාණවත් නොවේ.
(3) ජීව භාෂාවක් අඛණ්ඩව භාවිත වීම පොදු ලක්ෂණයකි.
(4) භාෂා උපාර්ජනය ළදරු වියට පමණක් සීමා වේ.
(5) රූපණය යනු නිශ්චිතව ම පුද්ගලබද්ධ සංසිද්ධියකි.

**32.** නිර්මාණකරණයට අදාළ කරුණු කිහිපයක් පහත දැක්වේ.
A - පුද්ගල අනුභූතීන් බෙදාහදා ගැනීම
B - සාක්ෂරතා ඥානය පැවතීම
C - සන්දේශයෙහි මතුපිට අර්ථය
D - ශිල්පීය විවිධතා ගැන අවබෝධය
මේවා අතුරෙන් 'නිර්මාණශීලී කියවීම' හා සම්බන්ධ වන්නේ,
(1) A හා B පමණි. (2) B හා C පමණි. (3) C හා D පමණි.
(4) A, B හා C පමණි. (5) A, B හා D පමණි.

**33.** ප්‍රස්තාව පිරුළු සම්බන්ධයෙන් වඩාත් ගැළපෙන ප්‍රකාශය තෝරන්න.
(1) අදහස් කෙටියෙන් හා ප්‍රබල ව ප්‍රකාශ කිරීමේ දී යොදා ගත හැකි ය.
(2) එදිනෙදා සන්නිවේදන කටයුතුවලට යොදා ගැනීම අපහසු වේ.
(3) ගුප්ත හා අදෘශමාන බලවේගවලට සම්බන්ධව නිර්මාණය වූවකි.
(4) ජනකථා හා කිසිදු ආකාරයකින් සම්බන්ධතාවක් නොමැත.
(5) නව සමාජ සංසිද්ධිවලට අනුව අලුතින් නිර්මාණය නොවේ.

**34.** මාධ්‍ය විචාරකයාගේ කාර්යභාරය කුමක් ද යන්න සම්බන්ධයෙන් පන්ති කාමරය තුළ සාකච්ඡාවක් මතු විය.
නිමල් :- විචාරකයාට මාධ්‍යයේ වෘත්තීමය ස්වභාවය පිළිබඳ අවබෝධයක් තියෙන්න ඕන.
කමල් :- සාමාන්‍ය ග්‍රාහකයාට වඩා විමර්ශනාත්මක හැකියා ඉහළ කෙනෙක් වෙන්නත් ඕන.
විමල් :- ඒ වගේ ම විචාරකයා මාධ්‍ය නිර්මාණ නිර්දය ලෙස විචාරය කරන්නෙක්.
රමල් :- මාධ්‍ය අන්තර්ගතය ගැන අවධානය යොමු කිරීම මිස කර්මාන්තය පවත්වාගෙන යාමට ඔහු දායක නොවිය යුතු ය.
ඉහත අදහස් අතුරෙන් විචාරක භූමිකාව හා ගැළපෙන අදහස් ඉදිරිපත් කරනුයේ,
(1) නිමල් හා කමල් ය. (2) නිමල් හා විමල් ය.
(3) නිමල්, විමල් හා රමල් ය. (4) කමල්, විමල් හා රමල් ය.
(5) නිමල්, කමල් හා රමල් ය.

**35.** "මහජන සම්බන්ධතාව යනු කුමක් ද?" මැයෙන් පවත්වන දේශනයක ඇතුළත් වීමට අවම ඉඩක් ඇති ප්‍රකාශය වන්නේ,
(1) කීර්තිය පිළිබඳ අවධානය යොමු කරන්නකි.
(2) මත ගොඩනැගීම හා සම්බන්ධ වූවකි.
(3) සැලසුම් සහගතව සිදු කරන කාර්යයකි.
(4) හොඳහිත ආරක්ෂා කර ගැනීමට අදාළ වූවකි.
(5) නිශ්චිත අවස්ථාවල දී සිදු කරනු ලබන්නකි.

**36.** සංවර්ධන සන්නිවේදන විධික්‍රම තීරණය කිරීමේ දී සලකා බැලීමට යෝජිත අදහස් කිහිපයක් පහත දැක්වේ.
A - නවීන තාක්ෂණික සංවර්ධනය සමග ඒකාබද්ධව ක්‍රියාත්මක කළ හැකි ය.
B - සැලසුම් සම්පාදනය කළ යුත්තේ අදාළ කාර්යය පිළිබඳ විශේෂඥයන් විසිනි.
C - සාම්ප්‍රදායික සන්නිවේදන ක්‍රම සමග මිශ්‍රව යොදා ගැනීමේ හැකියාව විමසා බැලීම සුදුසු ය.
D - ඉලක්ක ප්‍රජාව පමණක් අරමුණු කරගත් සැලසුම් සහගත සන්නිවේදනයක් විය යුතු ය.
E - භාෂාව ඵලදායි ලෙස භාවිත කිරීමේ හැකියාව විමසා බලා තෝරාගත යුතු ය.
ඉහත ප්‍රකාශ අතුරෙන් සත්‍ය වන්නේ,
(1) A, B, D හා E පමණි. (2) A, B, C හා D පමණි.
(3) A, C, D හා E පමණි. (4) B, C, D හා E පමණි.
(5) A, B, C, D හා E යන සියල්ල ම ය.

[ පස්වැනි පිටුව බලන්න.

**37.** මහජන චීනයේ නායකයකු වූ මා ඕ සේතුං විසින් සංවර්ධන කාර්යයේ දී මහජනයා හා සම්බන්ධ අංග හතරක් ඉදිරිපත් කරන ලදී. එම අංග ඇතුළත් නිවැරදි කාණ්ඩය තෝරන්න.
(1) ප්‍රජානනය, ප්‍රජාසහභාගිත්වය, නාගරීකරණය, ප්‍රාමාණීකරණය
(2) සාරාංශකරණය, කාර්මීකරණය, විශ්වසනීයත්වය, ක්‍රියාවට පරිවර්තනය කිරීම
(3) ප්‍රාමාණීකරණය, නාගරීකරණය, කාර්මීකරණය, නවීකරණය
(4) ප්‍රජානනය, සාරාංශකරණය, ප්‍රාමාණීකරණය, ක්‍රියාවට පරිවර්තනය කිරීම
(5) කාර්මීකරණය, නාගරීකරණය, නවීකරණය, බටහිරකරණය

**38.** නිරවද්‍ය ප්‍රකාශය තෝරන්න.
(1) නැගෙනහිර රටවල ඇදහිලි විශ්වාස බහුල ව නැත.
(2) ශාන්තිය සඳහා අණවින, කොඩිවින සිදු කරනු ලබයි.
(3) නැකත් ශාස්ත්‍රය හා ජ්‍යෝතිෂය ජනවෙදකමට සම්බන්ධ වේ.
(4) ප්‍රස්තාව පිරුළු බොහෝ විට ජනකතාවලට සම්බන්ධ නොවේ.
(5) මිථ්‍යා මූලාශ්‍ර මත පමණක් ජනකතා බිහි වේ.

**39.** ජනප්‍රිය සංස්කෘතිය තුළ ජනමාධ්‍ය වඩාත් ඉස්මතු කර දක්වන්නේ,
(1) වෙළඳ ප්‍රතිලාභ මතුකර ජනාකර්ෂණය දිනා ගත හැකි සන්දේශයන් ය.
(2) බහුතර සංස්කෘතික නියෝජනය සහිත සන්දේශයන් ය.
(3) ග්‍රාහකයාගේ ඥානය ප්‍රවර්ධනය කරන සන්දේශයන් ය.
(4) ග්‍රාහකයා විසින් ඉල්ලා සිටින අන්තර්ගතයන් සහිත සන්දේශයන් ය.
(5) ජන සමාජය තුළ ජනප්‍රිය වී ඇති සංස්කෘතිකාංග පාදක සන්දේශයන් ය.

**40.** පහත සඳහන් යුගලවලින් සංකල්පීය ලෙස **ප්‍රතිවිරුද්ධ** වන්නේ,
(1) අධිපතිවාදී සංකල්පය සහ කොමියුනිස්ට්වාදී සංකල්පයයි.
(2) නිදහස් මතවාදී සංකල්පය සහ බටහිර මතවාදී සංකල්පයයි.
(3) අධිපතිවාදී සංකල්පය සහ නිදහස් මතවාදී සංකල්පයයි.
(4) කොමියුනිස්ට්වාදී සංකල්පය සහ විප්ලවවාදී සංකල්පයයි.
(5) ප්‍රජාතන්ත්‍රවාදී සංකල්පය සහ සංවර්ධනාත්මක සංකල්පයයි.

**41.** වාණිජමය ව්‍යාපාරයක මහජන සම්බන්ධතා ව්‍යාපෘතියක් ක්‍රියාත්මක කිරීමේ දී 'මහජනයා' තීරණය කිරීම අතිශය වැදගත් වේ. එකී කණ්ඩායමට ඇතුළත් විය හැකි අය පිළිබඳ **සාවද්‍ය** ප්‍රකාශය තෝරන්න.
(1) සමාජයේ වෙසෙන පොදු මහජනයා මෙමගින් අදහස් කරයි.
(2) උපදේශකයින්, සේවා සපයන්නන්, බෙදා හරින්නන් මෙන් ම ආයෝජකයන් ද ඊට ඇතුළත් ය.
(3) ව්‍යාපාරයේ අභ්‍යන්තර සේවකයින් හා පාරිභෝගික ප්‍රජාව මීට අයත් වේ.
(4) පොදු මහජනයා අතුරින් තෝරාගත් පිරිසක් පමණක් මෙම ගණයට අයත් වේ.
(5) එක් ව්‍යාපාරයකට අයත් ඉහත කණ්ඩායම තවත් ව්‍යාපාරයක දී වෙනස් විය හැකි ය.

**42.** දැනට ක්‍රියාත්මක තොරතුරු අයිතිය පිළිබඳ නීතිය භාවිත කළ හැක්කේ,
(1) ජනමාධ්‍යවේදීන්ට තොරතුරු ලබා ගැනීම සඳහා පමණි.
(2) රාජ්‍ය හා පෞද්ගලික අංශවල තොරතුරු ලබා ගැනීම සඳහා ය.
(3) රාජ්‍ය හා ඊට සම්බන්ධ ආයතන මගින් සිදු කරන කටයුතුවලට අදාළ තොරතුරු දැනගැනීමට ය.
(4) වසර 10කට පෙර හුවමාරු වූ රාජ්‍ය ලිපිලේඛන පරීක්ෂා කිරීමට ය.
(5) රාජ්‍ය අංශයට අයත් ඕනෑම තොරතුරක් වහාම ලබා ගැනීම සඳහා ය.

**43.** රාජ්‍ය මාධ්‍ය සහ පෞද්ගලික මාධ්‍ය මෑයි දින රැස්වීම් පිළිබඳ වාර්තා කර තිබුණේ එකිනෙකට වෙනස් ආකාරයෙනි. මෙම තත්ත්වය හොඳින් තේරුම් ගැනීමට වඩාත් වැදගත් වන්නේ,
(1) මාධ්‍ය හිමිකාරිත්වය පිළිබඳ විචාරාත්මක අවබෝධයයි.
(2) මාධ්‍ය වාර්තාකරණය පිළිබඳ යාවත්කාලීන දැනුමයි.
(3) මාධ්‍ය දේශපාලනය පිළිබඳ යථාර්ථවාදී දෘෂ්ටියයි.
(4) මාධ්‍ය සාක්ෂරතාව පිළිබඳ ප්‍රායෝගික කුසලතාවයි.
(5) මාධ්‍ය ස්වාධීනත්වය පිළිබඳ න්‍යායාත්මක පරිචයයි.

**44.** ලේඛකයා නවකතාවක චරිත අතර සිදු වන සංවේදී පසුබිම් පරිසරය පිළිබඳ ඉදිරිපත් කරන විස්තර කිරීම
(1) වාර්තාකරණයකි. (2) රූපණයකි.
(3) විවරණයකි. (4) භාෂණයකි.
(5) විවේචනයකි.

**45.** සමකාලීන මාධ්‍ය සංස්කෘතිය තුළ අභිසාරී මාධ්‍ය ප්‍රවණතාව වර්ධනය වන්නේ,
(1) ජනමාධ්‍ය නාලිකාවල ප්‍රමාණාත්මක වර්ධනය නිසා ය.
(2) ජංගම දුරකථන මගින් ග්‍රාහක අන්තර් ක්‍රියාකාරිත්වය වර්ධනය වීම නිසා ය.
(3) අන්තර්ජාලයේ ව්‍යාප්තිය නිසා ය.
(4) සන්නිවේදනයේ දෘශ්‍ය ප්‍රවණතාව වර්ධනය වීම නිසා ය.
(5) ගෝලීයකරණයේ දැඩි බලපෑම නිසා ය.

**46.** විමල් සිය රැකියාවෙන් විශ්‍රාම ගැනීම නිසා සුපුරුදු ජීවන රටාවෙන් බැහැර වීමට ඔහුට සිදු විය. අනපේක්ෂිත ජීවන වෙනස්කම් හේතුවෙන් ඔහු මානසික දුර්වල තත්ත්වයට ද පත් විය. මෙය,
(1) ආතතියේ ලක්ෂණයකි. (2) ක්ලමථයේ ලක්ෂණයකි.
(3) කාංසාවේ ලක්ෂණයකි. (4) විෂාදයේ ලක්ෂණයකි.
(5) ධ්‍රැවගත වීමේ ලක්ෂණයකි.

**47.** යුරෝපීය චිත්‍රපට උළෙලක් මෙරට පැවැත්වීමට යුරෝපා සංගමය තීරණය කර තිබේ. එය,
(1) සංස්කෘති ආක්‍රමණයකි. (2) සංස්කෘතික සහයෝගීතාවකි.
(3) වාණිජ අරමුණු සහිත වූවකි. (4) නව යටත් විජිතවාදී උපක්‍රමයකි.
(5) දේශීය සිනමාව පෝෂණය කිරීමකි.

**48.** අප රටේ මෑතක දී ඇති වූ ස්වාභාවික ආපදා අවස්ථාවේ දී ජනතාව වෙත සහනාධාර එක්රැස් කර බෙදා දීමට ජනමාධ්‍ය ආයතන විසින් කටයුතු කරන ලදී. ආයතනික දෘෂ්ටි කෝණයෙන් බලන විට මෙය,
(1) ජනමාධ්‍යයේ ප්‍රමුඛ කාර්යයකි. (2) ආපදා කළමනාකරණ ක්‍රියාවලියකි.
(3) ප්‍රජා සත්කාරයකි. (4) මහජන සම්බන්ධතා ස්වරූපයකි.
(5) මාධ්‍ය සමාජ වගකීම් ඉටු කිරීමකි.

**49.** X නමැති බැංකුවෙහි මහජන සම්බන්ධතා නිලධාරිනිය ලෙස නව පත්වීමක් ලබන රංජනී බැංකුව හා ගිණුම්කරුවන් අතර සබඳතාව වර්ධනය කිරීම සඳහා භාවිත කළ හැකි විධික්‍රම ගණනාවක් යෝජනා කළා ය. ඒවා අතුරින් වඩාත් ම සුදුසු වන්නේ,
(1) වෙළඳ දැන්වීම්, ප්‍රදර්ශන, වාර්ෂික වාර්තා හා පුවත් හසුන් ය.
(2) ස්තුති ලිපි, පොත් පිංච, තරග සංවිධානය හා ත්‍යාග ලබා දීම ය.
(3) අත් පත්‍රිකා, අනුග්‍රහ දැක්වීම්, වෘත්තීය පුහුණුව හා ප්‍රවෘත්ති නිවේදන ය.
(4) මාධ්‍ය සම්බන්ධතා, තීරු ලිපි, පොත් පිංච හා ස්තුති ලිපි ය.
(5) ප්‍රවෘත්ති සාකච්ඡා, ප්‍රවෘත්ති නිවේදන, පුවත් හසුන් හා තරග සංවිධානය ය.

**50.** රූපවාහිනී වෙළෙඳ දැන්වීම් පිළිබඳ සාකච්ඡාවක් පාසල් මාධ්‍ය කවයේ දී මතු විය.
ජයනි :- භාණ්ඩ පරිභෝජන රටාව වෙනස් කරන්න දැන්වීම්වලට පුළුවන්.
නයනි :- දැන්වීම්වලින් තොරව ජනමාධ්‍යවලට පවතින්න අපහසුයි.
රුවනි :- විශ්වසනීයත්වයකින් යුතුව භාණ්ඩ මිල දී ගැනීමට දැන්වීම් ප්‍රයෝජනවත්.
කමනි :- වෙළඳ දැන්වීම් නිවැරදිව වටහා ගන්න මාධ්‍ය සාක්ෂරතාව තිබිය යුතුයි.
ඉහත ප්‍රකාශ අතුරින් වෙළඳ දැන්වීම් පිළිබඳ නිවැරදි ප්‍රකාශ ඉදිරිපත් කරන්නේ,
(1) ජයනි සහ රුවනි පමණි. (2) ජයනි, නයනි සහ රුවනි පමණි.
(3) නයනි, රුවනි සහ කමනි පමණි. (4) ජයනි, නයනි සහ කමනි පමණි.
(5) ජයනි, නයනි, රුවනි සහ කමනි යන සියලු දෙනා ම ය.

* * *

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2017 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2017 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2017

| | | |
|---|---|---|
| **සන්නිවේදනය හා මාධ්‍ය අධ්‍යයනය II**<br>தொடர்பாடலும் ஊடகக் கற்கையும் II<br>Communication & Media Studies II | **29 S II** | **පැය තුනයි**<br>மூன்று மணித்தியாலம்<br>Three hours |

**උපදෙස්:**

* ප්‍රශ්න **පහකට** පමණක් පිළිතුරු සපයන්න. එක් ප්‍රශ්නයකට හිමි ලකුණු සංඛ්‍යාව **20**කි.

**1.** සන්නිවේදනය යනු මානවයාගේ පැවැත්මට අත්‍යවශ්‍ය සාධකයකි.

(i) සන්නිවේදනය පිළිබඳ ක්ලෝඩ් ෂැනන් සහ වොරන් වීවර්ගේ නිර්වචනය දක්වන්න.

(ii) සන්නිවේදනයේ මූලික කාර්ය **හතරක්** කෙටියෙන් පැහැදිලි කරන්න.

(iii) සන්නිවේදන සංකල්ප **හතරක්** නම් කර, ඉන් **දෙකක්** කෙටියෙන් විස්තර කරන්න.

(iv) ඔබ තෝරාගත් ජනමාධ්‍යයක් ඇසුරෙන් සන්නිවේදන ක්‍රියාවලියේ මූලිකාංග **හතරක්** විමර්ශනය කරන්න.

**2.** ස්වාභාවික ආපදාවලදී ජනමාධ්‍යවලින් සිදු කළ හැකි සේවාව විශාල ය.

(i) ජනමාධ්‍ය සතු ලක්ෂණ **හතරක්** නම් කරන්න.

(ii) පුරවැසි මාධ්‍යයෙහි විශේෂතා **දෙකක්** දක්වා, ඒවා ස්වාභාවික ආපදා අවස්ථාවලදී භාවිත කළ හැකි ආකාරය කෙටියෙන් පහදන්න.

(iii) ඩෙංගු රෝගය පිළිබඳ දැනුවත් කිරීමට නිර්මාණය වන වීදි නාට්‍යයක් සඳහා ජනශ්‍රැතිකාංග **තුනක්** යොදා ගත හැකි ආකාරය නිදසුන් සහිත ව පැහැදිලි කරන්න. .

(iv) සංවර්ධන ව්‍යාපෘතියක් සඳහා තොරතුරු රැස්කර ගැනීමට යොදා ගත හැකි ක්‍රම **දෙකක්** සහ එම තොරතුරු විශ්ලේෂණය කිරීමේ දී අනුගමනය කළ යුතු මාර්ගෝපදේශ **දෙකක්** විස්තර කරන්න.

**3.** 'ඕපාදූප' යන්න සන්නිවේදන ක්ෂේත්‍රයේ පවතින අපූරු ප්‍රපංචයකි. විටෙක අවිධිමත් සන්නිවේදන ක්‍රියාවලිය යටතේ අවධානයට ලක්වන එය තවත් විටෙක ගැටුම් උත්පාදනයට හේතු වන්නක් ලෙස සැලකිය හැකි ය.

(i) අවිධිමත් සන්නිවේදනය හා සම්බන්ධ 'ඕපාදූප දාමය' රූප සටහනක් ඇසුරෙන් දක්වන්න.

(ii) විධිමත් සහ අවිධිමත් සන්නිවේදනය අතර වෙනස්කම් **දෙකක්** සැකෙවින් විස්තර කරන්න.

(iii) ඕපාදූප පාදක කොටගෙන ගැටුම් පැනනැගිය හැකි අයුරු කරුණු **තුනක්** ඇසුරෙන් පැහැදිලි කරන්න.

(iv) ඕපාදූප පදනම් වූ ගැටුම් කළමනාකරණය කිරීමේ දී සිදු කළ හැකි කාර්ය **හතරක්** විස්තර කරන්න.

**4.** "සන්නිවේදනය හා භාෂාව අතර ඇත්තේ අවියෝජනීය සම්බන්ධයකි. කථනය හා ලේඛනයේ දී මෙන් ම ජනමාධ්‍ය භාවිතයේ දී ද භාෂාවේ කාර්ය සුවිශේෂ වේ."

(i) 'භාෂා උපාර්ජනය' යනු කුමක් දැයි කෙටියෙන් පැහැදිලි කරන්න.

(ii) නව මාධ්‍ය සඳහා භාෂාව යොදා ගැනීමේ දී දක්නට ලැබෙන විශේෂතා **දෙකක්** විස්තර කරන්න.

(iii) ගුවන් විදුලි ප්‍රවෘත්ති වාර්තාකරණයේ දී භාෂා භාවිතයේ දක්නට ලැබෙන විශේෂතා **තුනක්** පැහැදිලි කරන්න.

(iv) භාෂා භාවිතයේ ප්‍රභේද **හතරක්** සුදුසු නිදසුන් සහිත ව විස්තර කරන්න.

**5.** (i) සමූහ සන්නිවේදනයේ විශේෂතා **හතරක්** නම් කරන්න.

(ii) ජනමාධ්‍ය සාකච්ඡාවක් සැලසුම් කිරීමේ දී අනුගමනය කළ යුතු පියවර **හතරක්** දක්වා, ඉන් **එකක්** කෙටියෙන් පැහැදිලි කරන්න.

(iii) මහජනයා තුළ ප්‍රසන්න හැඟීමක් ඇති කරලීම සඳහා රෝහල් පරිශ්‍රය සකස් කර ගැනීමට යොදාගත හැකි විධික්‍රම **තුනක්** විස්තර කරන්න.

(iv) සංවර්ධනය පිළිබඳව දියුණු වෙමින් පවතින රටවල ජනතාව තුළ පවත්නා ආකල්පමය ගැටලු **හතරක්** විස්තර කරන්න.

[දෙවැනි පිටුව බලන්න.

**6.** ජනමාධ්‍ය කර්මාන්තය මෙහෙයවනු ලබන්නේ දේශපාලන හා ව්‍යාපාරික කණ්ඩායම් මගිනි.

(i) ජනමාධ්‍ය ව්‍යාප්තිය මගින් නිර්මාණය වූ ලෝකය පිළිබඳ සංකල්පය නම් කරන්න.

(ii) දැන්වීම්කරණය මගින් සංස්කෘතියට කරනු ලබන බලපෑම කරුණු **දෙකක්** ඇසුරෙන් විස්තර කරන්න.

(iii) ජනමාධ්‍ය මගින් පුද්ගලයාගේ දෛනික න්‍යාය පත්‍රය ගොඩනැංවෙන ආකාරය කරුණු **තුනක්** ඇසුරෙන් විස්තර කරන්න.

(iv) ඓතිහාසික හා දේශපාලන විචාර ප්‍රවේශ **දෙක** සුදුසු උදාහරණ දක්වමින් විස්තර කරන්න.

**7.** මාධ්‍ය සංස්කෘතියේ ගති ස්වභාවය මනාව අවබෝධ කර ගැනීමට මාධ්‍ය සාක්ෂරතාව ප්‍රයෝජනවත් වේ.

(i) එඩ්වඩ් ටයිලර් විසින් ඉදිරිපත් කරන ලද 'සංස්කෘතිය' පිළිබඳ නිර්වචනයේ ඇතුළත් වන කරුණු **හතරක්** නම් කරන්න.

(ii) අධ්‍යාපනය පාදක කරගත් 'මෙහෙයුම් සංදේශ' හා 'නඩත්තු සංදේශ' වල ස්වභාවය කෙටියෙන් පැහැදිලි කරන්න.

(iii) ජනමාධ්‍ය හා සබැඳි ජනප්‍රිය සංස්කෘතියෙහි මූලික ලක්ෂණ **තුනක්** විස්තර කරන්න.

(iv) මාධ්‍ය සාක්ෂරතාව හා සම්බන්ධ කුසලතා **හතර** වෙන් වෙන්ව විස්තර කරන්න.

***